# කරණීය මෙත්ත සූත්‍රය

(සූත්‍ර පිටකය, ඛුද්දක නිකාය, සුත්ත නිපාතය, උරග වග්ගය )

| | |
|---|---|
| **කරණීය මත්ථ කුසලේන**[2] | ඒ ශාන්ත පදය වන " අමා නිවන" ට පැමිණ වාසය කිරීමට කැමති අයෙකු |
| **යං තං සන්තං පදං අභිසමෙච්ච**[1] | විසින්[1] ඒ සඳහා ඇති කරගත යුතු කුසලතා[2] |
| **සක්කෝ** | (කුටි සෑදීම සිවුරු මැසීම පඬු පෙවීම පාත්තර සකස් කිරීම ආදී ) සියලු කටුයුතු වල දක්ෂයෙක් විය යුතුයි |
| **උජු ච** | ඍජු ( අවංක ) කෙනෙක් විය යුතුයි |
| **සුජු ච** | ඉතා අවංක කෙනෙක් විය යුතුයි |
| **සුවචෝ චස්ස** | කීකරු කෙනෙක් විය යුතුයි |
| **මුදු** | මෘදු හිතැත්තෙක් විය යුතුයි |
| **අනතිමානී** | අධික මාන නැත්තෙක් විය යුතුයි |
| **සන්තුස්සකෝ ච** | ලද දෙයින් සතුටු වන කෙනෙක් විය යුතුයි |
| **සුභරෝ ච** | පහසුවෙන් පෝෂණය කළ හැක්කෙක් විය යුතුයි |
| **අප්පකිච්චෝ ච** | අඩුවෙන් වැඩ කටයුතු ඇත්තෙක් විය යුතුයි |
| **සල්ලහුකවුත්ති** | සැහැල්ලු පැවතුම් ඇත්තෙක් විය යුතුයි |
| **සන්තින්ද්‍රියෝ ච** | දමනය කළ ,සන්සුන් ඉඳුරන් ඇත්තෙක් විය යුතුයි |
| **නිපකෝ ච** | තැනට සුදුසු නුවණ ඇත්තෙක් විය යුතුයි |
| **අප්පගබ්භෝ** | හැඩිදැඩි අසංවරගති නැත්තෙක් විය යුතුයි |
| **කුලේසු අනනුගිද්ධෝ** | හිත මිත්‍ර කුලපවුල් වල නොඇලෙන්නෙක් විය යුතුයි |
| **න ච ඛුද්දං සමාචරේ කිඤ්චි යේන** | නුවණැත්තන් නින්දා කරන ඉතා සුළු වරදක් වත් නොකරන |
| **විඤ්ඤූ පරේ උපවදෙය්‍යුං** | අයෙක් විය යුතුයි |

(මෛත්‍රිය වඩන ආකාරය )

| | |
|---|---|
| **සුඛිනෝ වා ඛේමිනෝ හොන්තු** | සියළු සත්වයෝ සුවපත් වෙත්වා භය නැත්තෝ වෙත්වා සැප |
| **සබ්බේ සත්තා භවන්තු සුඛිතත්තා** | ඇති සිත් ඇත්තෝ වෙත්වා |
| **යේ කේචී පාණභූතත්ථි**[3] **තසා වා**[1] | කෙලෙස් සහිත වූ[1] ද,කෙලෙස් රහිත වූ ද[2] යම් සත්ව |
| **ථාවරා වා**[2] **අනවසේසා**[4] | පිරිසක් ඇද්ද[3] ඒ සියළුම දෙනා ද[4] |
| **දීඝා වා යේ මහන්තා වා** | දිග සත්තු ද මහත ශරීර ඇති සත්තු ද |
| **මජ්ඣිමා රස්සකාණුකථූලා** | මධ්‍යම ප්‍රමාණයේ සත්තු ද මිටි සත්තු ද ඉතා සියුම් සත්තු ද ස්ථූල සත්තු ද |
| **දිට්ඨා වා යේව අද්දිට්ඨා** | ඇසට පෙනෙන සත්වයෝද ඇසට නොපෙනෙන සත්වයෝද |
| **යේ ච දූරේ වසන්ති අවිදූරේ** | දුර වාසය කරන සත්වයෝද ළඟ වාසය කරන සත්වයෝද |
| **භූතා වා සම්භවේසීවා** | ඉපදී සිටින සත්වයෝ ද ඉපදෙමින් සිටින සත්වයෝද |
| **සබ්බේ සත්තා භවන්තු සුඛිතත්තා** | සියලු සත්වයෝ සුවපත් වෙත්වා! |
| **න පරෝ පරං නිකුබ්බේථ** | කිසිවෙක් කිසිවෙකුට (රැවටීම් ආදියෙන්) හිංසා නොකෙරේවා! |
| **නාතිමඤ්ඤේථ කත්ථචි නං කඤ්චි** | කිසි තැනකදී කිසිවෙක් කිසිවෙකුට අවමන් නොකරත්වා! |
| **බ්‍යාරෝසනා පටිඝසඤ්ඤා** | නුරුස්නා ක්‍රියාවෙන් හෝ නපුරු සිතුවිල්ලෙන් හා වචනයෙන්, |
| **නාඤ්ඤමඤ්ඤස්ස දුක්ඛමිච්ඡෙයිය** | ඔවුනොවුන්ට දුකක් කැමති නොවෙත්වා! |
| **මාතා යථා නියං පුත්තං** | තම ජීවිතය මෙන් පුතු සුරකින |
| **ආයුසා ඒකපුත්තමනුරක්ඛේ** | එකම පුතෙකු ඇති මව් විලසින් |
| **ඒවම්පි සබ්බභූතේසු** | සියළු සත්වයන් කෙරෙහි |
| **මානසං භාවයේ අපරිමාණං** | අප්‍රමාණ වූ මෙත්සිත පැතිර විය යුතුය |
| **මෙත්තං ච සබ්බ ලෝකස්මිං**[7] | උඩ ද[1] යට ද[2] හරහට ද[3] සීමාවක් නැතිව[4] වෛර සිත් |
| **මානසං භාවයේ අපරිමාණං**[8] | නැතිව[5] සතුරු බඩා නැතිව[6] සියළු ලෝකය කෙරෙහි[7] |
| **උද්ධං**[1] **අධෝ ච**[2] **තිරියඤ්ච**[3] | අප්‍රමාණ වූ[8] මෙත් සිත පැතිරිය යුතුය |
| **අසම්බාධං**[4] **අවේරං**[5] **අසපත්තං**[6] | |
| **තිට්ඨං චරං නිසින්නෝ වා** | සිටගෙන සිටින විට ඇවිදින විට හෝ හිඳගෙන සිටින විට ද |
| **සයානෝ වා යාවතස්ස විගතමිද්ධෝ** | නිදාගැනීමට ගිය විට හා නින්ද යන තුරු ද |
| **ඒතං සතිං අධිට්ඨෙය්‍ය** | මේ මෛත්‍රී සහගත සිත අධිෂ්ඨානයෙන් සිහි කළ යුතුය |
| **බ්‍රහ්මමේතං විහාරං ඉධමාහු** | එසේ විසීම බ්‍රහ්මවිහරණය යි කියනු ලැබේ (මෙසේ කරන තැනත්තා) |
| **දිට්ඨිං ච අනුපගම්ම සීලවා** | කිසිදු මිථ්‍යා දෘෂ්ඨියන් හි නොඇලී සිල් ගුණ ධර්ම දියුණු කරගෙන |
| **දස්සනේන සම්පන්නෝ** | සොතාපණ්ණ මාර්ගය දකිනා නුවණින් යුතුවී |
| **කාමේසු විනෙය්‍ය ගේධං** | කාමයන් ට ඇති ඇල්ම දුරු කොට |
| **නහි ජාතු ගබ්භසෙය්‍යං පුනරේතී ති.** | නැවත මව් කුසක බැසගැනිමට කිසි දිනක නොපැමිණේ (පිරිණිවන්පානු ලැබේ) |

**උතුම් වූ ධර්මාවබෝධය පිණිසම හේතු වේවා!!!** - **මහේෂ් දෙමටගොල්ල**